OL/2015/84-S-I, II 6994





**84 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

| | | |
|---|---|---|
| ශිල්ප කලා | I, II | පැය තුනයි |
| நுண்கலை | I, II | மூன்று மணித்தியாலம் |
| Arts and Crafts | I, II | Three hours |

## ශිල්ප කලා I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරන්න.

(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස, දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** සරල තාක්ෂණය අන්තර්ගත කලා මෙන් ම වෙහෙසවීමේ දී සතුට ලබා ගැනීම සඳහා කෙරෙන ජන ක්‍රියාකාරකම් ද ජනකලා ක්ෂේත්‍රයට අයත් වේ. ශාන්තිකර්ම, කෝලම් රංගන, වන්නම්, සොකරි, ලී කෙළි නැටුම් කුමන ජනකලා ක්ෂේත්‍රයට අයත් වන්නේ ද?

(1) දෘශ්‍ය කලා (2) ශ්‍රව්‍ය කලා (3) දෘශ්‍ය හා ශ්‍රව්‍ය කලා (4) චිත්‍ර කලා

**2.** පහත දැක්වෙන *AB* තිරස් රේඛාව මත 90°, 60°, 45°, 30° යන අගයන් දැක්වීමට ආනත රේඛා නිර්මාණය කර ඇත.




මෙම නිර්මාණ සඳහා පැන්සල සහ කෝදුව සමග යොදා ගැනෙන අනෙක් උපකරණය වන්නේ,

(1) ටී රූල ය. (2) කෝදුව ය. (3) කෝණමානය ය. (4) විහිත චතුරස්‍රය ය.

**3.** පහත ඇති ජ්‍යාමිතික සටහන් මගින් දැක්වෙන්නේ සෘජු කෝණයක් සහ සරල කෝණයකි. මෙම කෝණ දෙකෙහි අගයන්හි එකතුව වන්නේ,

(1) 150° ය.
(2) 180° ය.
(3) 270° ය.
(4) 360° ය.



**4.** පතුල සවිධි පංචාස්‍රයක හැඩය ගත් විදුලි පහනක් මෙහි දැක්වේ. මෙම නිර්මාණය සඳහා යොදාගෙන ඇත්තේ ත්‍රිකෝණ පහකි. යොදාගත් ත්‍රිකෝණ වන්නේ,

(1) සුළු කෝණ සහිත සමද්විපාද ත්‍රිකෝණ වේ.
(2) සෘජු කෝණයක් සහිත සමද්විපාද ත්‍රිකෝණ වේ.
(3) විෂමපාද සහිත ත්‍රිකෝණ වේ.
(4) විෂමපාද සහිත සෘජු කෝණික ත්‍රිකෝණ වේ.



**5.** ත්‍රිකෝණ හා වෘත්ත ඇතුළත් ජ්‍යාමිතික රූප හතරක් මෙහි දැක්වේ. මේ අතුරෙන් පරිවෘත්තයක් සහිත රූපය තෝරන්න.


(1)


(2)


(3)


(4)

[දෙවැනි පිටුව බලන්න.

**6.** මෙම ජ්‍යාමිතික හැඩතලවලින් පෙන්වා ඇත්තේ චතුරස්‍ර වර්ග හතරකි. මින් පාද දෙකක් පමණක් සමාන්තර වන චතුරස්‍රය තෝරන්න.






(1) (2) (3) (4)

**7.** මෙම රූපයෙන් දැක්වෙන්නේ පතුල රොම්බසයක හැඩය ගන්නා අල්පෙනෙත්ති බඳුනකි. එහි පතුල හරහා යන විකර්ණයක් ඔස්සේ භාජනය සමාන කොටස් දෙකකට වෙන්කර ඇත. වෙන් කරන ලද කොටසක පතුලේ හැඩය වන්නේ,



(1) සමපාද ත්‍රිකෝණයකි.
(2) සමද්විපාද ත්‍රිකෝණයකි.
(3) සුළු කෝණී ත්‍රිකෝණයකි.
(4) සෘජු කෝණී ත්‍රිකෝණයකි.

**8.** මෙම රූපයෙන් දැක්වෙන වෘත්තයේ $AB$ සහ $CD$ යන ජ්‍යායන් සමච්ඡේදනය කර ඇත. සමච්ඡේදක දෙක '$O$' ලක්ෂ්‍යයේ දී එකිනෙකට ඡේදනය වන පරිදි දීර්ඝ කර ඇත.
පහත දී ඇති කුමන ප්‍රකාශය නිවැරදි ද?




(1) '$O$' සිට පරිධියේ ලක්ෂ්‍යයන් යා කළ විට වෘත්ත අරය ලබා ගත හැකි ය.
(2) සමච්ඡේදක දෙක වෘත්තය තුළ ඕනෑම ලක්ෂ්‍යයක දී ඡේදනය විය හැකි ය.
(3) සෑම විට ම $OE$ දිග හා $OF$ දිග සමාන වේ.
(4) $OEB$ කෝණයත් $OFD$ කෝණයත් විශාලත්වයෙන් සමාන නොවේ.

**9.**






$A$ $B$ $C$ $D$

ඉහත $A, B, C$ සහ $D$ මගින් දක්වා ඇත්තේ පතුල සමචතුරස්‍රාකාර, ෂඩස්‍රාකාර, වෘත්තාකාර සහ ඕවලාකාර වන බඳුන් හතරකි. මෙහි බඳ කොටසේ විකසනය සෘජුකෝණාස්‍රාකාර ලෙස දක්නට ලැබෙන්නේ

(1) $A$ සහ $B$ බඳුන්වල පමණි.
(2) $C$ සහ $D$ බඳුන්වල පමණි.
(3) $A, B$ සහ $C$ යන බඳුන්වල පමණි.
(4) $A, B, C$ සහ $D$ යන සියලු ම බඳුන්වල ය.

**10.** පහත දැක්වෙන්නේ ලෝහ තහඩුවලින් සකස් කිරීමට අදහස් කර ඇති පුනීලයක්, කිරි පෙරණයක්, බාල්දියක් සහ පහන් ආවරණයක් යන මෙවලම්වල විකසනයන් ය. මේවායින් බාල්දිය සඳහා සකස් කරන ලද විකසනය තෝරන්න.






(1) (2) (3) (4)

[තුන්වැනි පිටුව බලන්න.

**11.** සායම්කරණයේ දී භාවිතයට ගැනෙන සායම්වල මූලික වර්ණ පදනම් කොට විශාල ප්‍රභේද සමූහයක් ගොඩනැගෙයි. මෙහි දී මූලික වර්ණ ලෙස සලකනු ලබන්නේ,

(1) කොළ, සුදු සහ රතු ය. (2) නිල්, කහ සහ රතු ය.
(3) කහ, කොළ සහ රතු ය. (4) දුඹුරු, නිල් සහ රතු ය.

**12.** සායම් ආලේපනයේ දී කාර්යයට අදාළ ව පින්සල් භාවිත කළ යුතු වේ. සියුම් රේඛා, කුඩා තිත්, ඉම් රේඛා ආදිය ඇඳීමට සුදුසු පින්සල් වන්නේ,

(1) අංක 10 සිට 08 දක්වා පින්සල් ය. (2) අංක 07 සිට 05 දක්වා පින්සල් ය.
(3) අංක 04 සිට 02 දක්වා පින්සල් ය. (4) අංක 00 සිට 01 දක්වා පින්සල් ය.

**13.** කෙඳි වර්ණ ගැන්වීමේ දී වර්ණ තහවුරු කර ගැනීම සඳහා විවිධ සහායක ද්‍රව්‍ය භාවිතයට ගැනේ. සහායක ද්‍රව්‍ය ලෙස අම්ල භාවිත කළ යුතු වන්නේ,

(1) ශාකවලින් ලබා ගන්නා සෙලියුලෝසික කෙඳි සඳහා ය.
(2) සතුන්ගෙන් ලබා ගන්නා ලෝම කෙඳි සඳහා ය.
(3) පටපණුවන්ගෙන් ලබා ගන්නා සේද කෙඳි සඳහා ය.
(4) කෘත්‍රිම පොලිමරවලින් නිපදවා ගන්නා කෙඳි සඳහා ය.

**14.** රෙදිපිළි සායම්කරණයේ දී සායම්වල අන්තර්ගත ගුණාංග වර්ණ ගැන්වීම කෙරෙහි තදින් බලපායි. සායම්වල ඇතුළත් ව තිබිය යුතු අනිවාර්ය ගුණාංගය වන්නේ,

(1) අවශෝෂණය කර ගැනීමේ හැකියාව ය.
(2) රසායනික ද්‍රව්‍යවලට ඔරොත්තු දීමේ හැකියාව ය.
(3) බාහිර ව සිදුවන ක්‍රියාවලට මුහුණ දීමේ හැකියාව ය.
(4) තද පැහැති වර්ණ රඳවා ගැනීමේ හැකියාව ය.

**15.** ජනප්‍රිය පිළි අලංකරණ ක්‍රමයක් වන බතික් කිරීම සඳහා උණුසුම් ජලය භාවිත නොකර සිසිල් ජලය පමණක් භාවිත කිරීමට හේතුව වන්නේ,

(1) උණුසුම් ජලය භාවිතයෙන් වර්ණකවල පැහැය අඩුවන නිසා ය.
(2) බතික් සායම් වර්ග උණුසුම් ජලයේ දිය නොවන නිසා ය.
(3) උණු ජලයේ තැම්බෙන රෙදි ඉක්මනින් දිරාපත් වන නිසා ය.
(4) රටා මැවීමට යොදන ඉටි මිශ්‍රණ උණු ජලයේ දිය වන නිසා ය.

**16.** එක්තරා රෙදි මුද්‍රණ ක්‍රියාවලියක අනුපිළිවෙළ පහත දැක්වේ.

i. මුද්‍රණ තලයක් සකසා ගැනීම
ii. එය මත රෙදිකඩ අතුරා ගැනීම
iii. ඝන කඩදාසියක රටාවක් ඇඳ කපා ගැනීම
iv. මුද්‍රණ තලය මත සවිකර ගැනීම
v. වර්ණ ආලේප කර ඝන කඩදාසිය ඉවතට ගැනීම

මෙම රෙදි මුද්‍රණ ක්‍රියාවලිය භාවිත කරන්නේ,

(1) තිර රාමු මුද්‍රණයේ දී ය. (2) අච්චු මුද්‍රණයේ දී ය.
(3) ස්ටෙන්සිල් මුද්‍රණයේ දී ය. (4) බතික් මුද්‍රණයේ දී ය.

**17.** පහත රූප සටහන්වලින් දක්වා ඇත්තේ රෙදිපිළි මුද්‍රණය සඳහා භාවිත කරන උපකරණ කිහිපයකි. මේවායින් තිර රාමු මුද්‍රණය (Silk Screen Printing) සඳහා භාවිත කරන උපකරණය තෝරන්න.


(1)


(2)


(3)


(4)

[හතරවැනි පිටුව බලන්න.

**18.** කෙඳි හඳුනා ගැනීමේ පරීක්ෂණයක් වන පිළිස්සුම් පරීක්ෂාවේ දී කඩදාසි පිළිස්සෙන ගඳ වහනය වන, කහපාට ලොකු ගිනි සිළු ඇතිව දැල්වෙන රෙදි විශේෂය වන්නේ,
(1) ලිනන් ය. (2) ලෝම ය. (3) කපු ය. (4) සේද ය.

**19.** රෙදිපිළි අලංකරණයේ දී භාවිත කළ යුතු පෙර පිරියම් ක්‍රමයක් වන විරංජනය කිරීමෙන් බලාපොරොත්තු වන්නේ,
(1) රෙදිවල අවපැහැය ඉවත් කර සුදු පැහැය ලබා ගැනීම ය.
(2) රෙදිවල අඩංගු අපද්‍රව්‍ය කාබන් බවට පත් කර ඉවත් කර ගැනීම ය.
(3) රෙදිවල ඇති තෙල්, ග්‍රීස් ආදියෙන් ඇතිවන පැල්ලම් ඉවත් කර ගැනීම ය.
(4) රෙදිවල අන්තර්ගත ව ඇති ඉටි, කැඳ වැනි ඇලෙනසුලු ද්‍රව්‍ය ඉවත් කර ගැනීම ය.

**20.** පිළි අලංකරණ ක්‍රියාවලියේ දී සායම් ආලේප කිරීම සහ මුද්‍රණය කිරීම යන ක්‍රම දෙක ම භාවිතයට ගැනේ. වෙළෙඳපොළෙහි ඒ සඳහා ඇති සායම් විශේෂ එලෙස ම භාවිත කළ හැකි වුව ද ෂේද රාමු මුද්‍රණය සඳහා සායම්වල කළ යුතු වෙනස වන්නේ,
(1) තෛලෝදකයක් එකතු කර ගැනීම ය. (2) ඝනකාරකයක් එකතු කර ගැනීම ය.
(3) ජලය එකතු කර ගැනීම ය. (4) ඔක්සිකාරකයක් එකතු කර ගැනීම ය.

**21.** දික් නූල් සහ හරස් නූල් අතර වන බැඳීම මත වියමන් රටා නිර්මාණය වේ. පාසල් නිල ඇඳුම් වන සුදු ගවුම් සහ කමිස රෙදි විවීම සඳහා භාවිත කෙරෙන වියමන් රටාව වන්නේ,
(1) චාම් වියමන ය. (2) ජටා වියමන ය. (3) දික්දාර වියමන ය. (4) හරස්දාර වියමන ය.

**22.** පහත දක්වා ඇති වියමන් රටා අතුරෙන් සරල හීරි වියමන තෝරන්න.


(1)


(2)


(3)


(4)

**23.** රෙදි වර්ග නිෂ්පාදනයේ දී ඒවාට ම ආවේණික වූ ගුණාංග ඇතුළත් කර නිපදවා ගැනේ. තුවා නිෂ්පාදනයේ දී එහි ඇතුළත් විය යුතු අනිවාර්ය ගුණාංගය වන්නේ,
(1) දිගින් හා පළලින් වැඩි වීම ය. (2) ලා පැහැති වර්ණයෙන් යුක්ත වීම ය.
(3) ජලය උරාගැනීමේ ශක්තියෙන් යුතු වීම ය. (4) මතුපිට සිනිඳු බවකින් යුක්ත වීම ය.

**24.** රූප සටහනේ දැක්වෙන පරිදි දෙපසින් මතුවන රේඛා දෙකක් සම්මුඛ වීමෙන් නිර්මාණය වන හීරි වියමන් රටාව
(1) දඟරහීරි වියමන නම් වේ.
(2) තුඩුහීරි වියමන නම් වේ.
(3) රුචිතහීරි වියමන නම් වේ.
(4) රළහීරි වියමන නම් වේ.



**25.** විවීම් තාක්ෂණයේ දී විවීමේ යන්ත්‍රයේ ඇති එක් එක් උපාංගය භාවිත කරන්නේ විවිධ කාර්ය සඳහා ය. රටා මතු කර ගැනීම සඳහා දික් නූල් ඇදීමට භාවිත කරන උපාංගය වන්නේ,
(1) පනාව ය. (2) ලීවරය ය. (3) නඩාව ය. (4) පුඩුවැල් ය.

**26.** විවීමේ යන්ත්‍රවල ඇති පහත දැක්වෙන උපාංගය භාවිතයට ගනු ලබන්නේ කුමන කාර්යයක් සඳහා ද?
(1) ලීවර සම්බන්ධ කර ගැනීම සඳහා ය.
(2) නඩාව ගමන් කරවීම සඳහා ය.
(3) හරස් නූල් තද කර ගැනීම සඳහා ය.
(4) අත්වැල් සම්බන්ධ කර ගැනීම සඳහා ය.



[පස්වැනි පිටුව බලන්න.

**27.** බඳුන් පලසක් විවීමේ දී යොදාගත් තනිපොට හරස් නූල් කැරළි සංඛ්‍යාව 60 කි. එම නූල් කිලෝ ග්‍රෑම් එකකට නූල් කැරළි 60 ක් අඩංගු වන්නේ නම්, එම නූලේ නොම්මරය වන්නේ,

(1) $2/60^{s}$ ය. (2) $60^{s}$ ය. (3) $30^{s}$ ය. (4) $2/30^{s}$ ය.

**28.** මෙට්‍රික් අංක $2/20^{s}$ නූල් කැරළි 80 ක් භාවිත කර තුවා 8ක් වියා ඇත. එක් තුවායක් විවීමට වැය වූ නූල්වල බර

(1) කිලෝග්‍රෑම් 10 කි. (2) කිලෝග්‍රෑම් 08 කි. (3) කිලෝග්‍රෑම් 02 කි. (4) කිලෝග්‍රෑම් 01 කි.

**29.** සෙන්ටිමීටර එකකට නූල් 16 යොදා සෙන්ටිමීටර 40 ක් පළල සිටින සේ අංක $2/30^{s}$ නූල් භාවිත කර සකස් කරන ලද නූල් හැදයක තිබිය යුතු නූල් පොටවල් ගණන කීය ද?

(1) $16 \times 40 = 640$ (2) $15 \times 40 = 600$ (3) $15 \times 16 = 240$ (4) $30 \times 40 = 1200$

**30.** මෙට්‍රික් අංක $16^{s}$ ක් වූ නූල් මිටියක බර කිලෝග්‍රෑම් 5 කි. එම නූල් මිටියේ අඩංගු නූල් කැරළි ගණන වන්නේ,

(1) කැරළි 142 කි. (2) කැරළි 100 කි. (3) කැරළි 80 කි. (4) කැරළි 60 කි.

**31.** ෆෙල්ස්පාර් නම් වූ මාතෘ පාෂාණය රසායනික, භෞතික හා ජීවවිද්‍යාත්මක බලපෑම්වලට ලක් වී දිරාපත් වීමෙන් මැටි නිර්මාණය වේ. මෙම මැටිවලින් භාණ්ඩ නිෂ්පාදනයට යොදා ගැනෙන මැටි වන්නේ,

(1) මිලිමීටර 0.002 ට වඩා කුඩා කලිලමය අංශු ය.
(2) මිලිමීටර 0.200 ට වඩා කුඩා කලිලමය අංශු ය.
(3) මිලිමීටර 2.002 ට වඩා කුඩා කලිලමය අංශු ය.
(4) මිලිමීටර 0.020 ට වඩා කුඩා කලිලමය අංශු ය.

**32.** මුළුතැන්ගෙයි පරිහරණය කෙරෙන වලං වැනි රතු මැටි භාණ්ඩ නිපදවීම සඳහා භාවිත කෙරෙන මැටි විශේෂය වන්නේ,

(1) කෙඹලින් මැටි හෙවත් ශේෂ මැටි ය.
(2) පිහිටි මැටි හෙවත් ප්‍රාථමික මැටි ය.
(3) ද්විතීයික මැටි හෙවත් අගම් මැටි ය.
(4) සුවිකාර්ය මැටි හෙවත් වාත්තු දියර මැටි ය.

**33.** මැටි භාණ්ඩ නිපදවීමේ දී භාණ්ඩවල හැඩය අවශ්‍ය ලෙස පවත්වා ගැනීමට පදම් මැටිවල තිබිය යුතු අනිවාර්ය ගුණාංගය වන්නේ,

(1) සවිවරතා ගුණයයි.
(2) උපයෝගිතාවයි.
(3) සුවිකාර්යතාවයි.
(4) තන්‍යතාවයි.

**34.** මැටි භාණ්ඩ නිපදවීම සඳහා විවිධ ක්‍රම භාවිතයට ගැනේ. එක ම හැඩයේ එක ම ප්‍රමාණයේ භාණ්ඩ රාශියක් අවශ්‍ය අවස්ථාවක භාවිත කළ යුතු නිෂ්පාදන ක්‍රමය වන්නේ,

(1) දරණු ක්‍රමයයි.
(2) තහඩු ක්‍රමයයි.
(3) සකපෝරුවේ ඉදි කිරීමයි.
(4) අච්චු ක්‍රමයයි.

**35.** පාසල් ගොඩනැගිල්ලක බිත්තියක සකස් කර ඇති නිර්මාණයක් මෙහි දැක්වේ. එය කුමන ආකාරයේ නිර්මාණයක් ද?



(1) මැටි තහඩු ආශ්‍රිත නිර්මාණයකි.
(2) මැටි දරණු ආශ්‍රිත නිර්මාණයකි.
(3) අඹන ලද නිර්මාණයකි.
(4) පූර්ණ උන්නත නිර්මාණයකි.

**36.** ආරම්භයේ සිට විවිධ අවස්ථා පසු කරමින් සකපෝරුවේ භාණ්ඩ ඉදිකිරීම සිදු කෙරේ. මැටි පිඩෙහි වයනය ලබාගත් පසු ඊළඟ පියවර වනුයේ,

(1) බඳුනේ බිත්ති එසවීම ය.
(2) බඳුනේ කට හැඩගැස්වීම ය.
(3) මැටි පිඩ විවෘත කිරීම ය.
(4) බඳුනේ පතුළ සකස් කිරීම ය.

**37.** මැටි භාණ්ඩ නිපදවීමේ දී එක් එක් භාණ්ඩ සඳහා විශේෂිත වූ නිෂ්පාදන ක්‍රම භාවිතයට ගැනේ. ඝන වාත්තු ක්‍රමයට නිපදවන භාණ්ඩ කාණ්ඩය තෝරන්න.

(1) බිම් ගඩොල් සහ බිත්ති ගඩොල්
(2) මල්පෝච්චි සහ විසිතුරු බඳුන්
(3) නාන ටැංකි සහ වැසිකිළි පෝච්චි
(4) ජෝග්ගු සහ කේතල්

[හයවැනි පිටුව බලන්න.

**38.** මැටි භාණ්ඩ අලංකරණය සඳහා පාරම්පරික ක්‍රම මෙන් ම නවීන ක්‍රම ද භාවිත කෙරේ. කඩදාසි මාධ්‍යයෙන් කොලාජ් නිර්මාණ භාවිත කර, මැටි භාණ්ඩ අලංකාර කර ගනු ලැබේ. මෙහි නිර්මාණ ක්‍රියාවලිය වන්නේ,
(1) රටා අනුව කඩදාසි කපා අලවා ගැනීමයි.
(2) කඩදාසි ඉරා රටා මැවෙන සේ අලවා ගැනීමයි.
(3) කඩදාසි පොඟවා පල්ප සාදා ඒවා භාවිත කිරීමයි.
(4) විවිධ හැඩවල කඩදාසි නවා අලවා ගැනීමයි.

**39.** මෙහි දැක්වෙන්නේ දේශීය පෝරණුවක දළ සැලැස්මකි. ග්‍රාමීය ශිල්පීන් බහුල ව භාවිත කරන මෙහි පිළිස්සීම සඳහා අමු මැටි භාණ්ඩ අසුරන ස්ථානය දැක්වෙන්නේ කිනම් අක්ෂරයෙන් ද?
(1) D
(2) C
(3) B
(4) A




**40.** මැටි භාණ්ඩ අලංකාර කර ගැනීම සඳහා භාවිත කරන ඉහළ ම වටිනාකමක් ඇති අලංකරණය ලෙස සැලකෙන්නේ දිස්න දැමීම හෙවත් ඔප මිශ්‍රණ ගැල්වීම ය. ඒ සඳහා සුදුසු භාණ්ඩ වන්නේ,
(1) අච්චු මාර්ගයෙන් සාදාගත් මැටි බඳුන් ය.
(2) හම්පදමට වියළා ගන්නා ලද මැටි බඳුන් ය.
(3) නිදුලතවු තත්ත්වයට පුලුස්සා ගත් මැටි බඳුන් ය.
(4) අව්වේ වියළා ගන්නා ලද මැටි බඳුන් ය.

* *

[හත්වැනි පිටුව බලන්න.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**84 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2015 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2015 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2015**

**ශිල්ප කලා I, II**
நுண்கலை I, II
Arts and Crafts I, II

## ශිල්ප කලා II

* **පළමුවැනි** ප්‍රශ්නය ද තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ද ඇතුළු ව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

1. "පුංචි දැතින් ලොවම දිනමු" යන තේමාව යටතේ ජාතික මට්ටමේ උත්සවයක් සංවිධානය කිරීමට අධ්‍යාපන අමාත්‍යාංශය අදහස් කොට ඇත. මෙයින් බලාපොරොත්තු වන්නේ පාසල් දරුවන්ගේ නිර්මාණ කුසලතා එළිදැක්වීමකි. මෙහි දී ප්‍රදර්ශනයක්, අලෙවිකරණයක් සමග නිර්මාණ ඇගයීමක් කර සම්මාන ප්‍රදානයක් ද සිදු කෙරේ.

   (i) උත්සවය සඳහා ප්‍රවිෂ්ට මාර්ගය අලංකාර කිරීමට ආරුක්කුමය සැරසිල්ලකට දළ රූප සටහනක් අඳින්න.

   (ii) ආරුක්කු තොරණ අලංකාර කිරීමට පරිසරයට **හානිදායක නොවන** අමුද්‍රව්‍ය **හතරක්** නම් කරන්න.

   (iii) ආරාධිත අමුත්තන්ට ආරාධනා කිරීමට සුදුසු ඇරයුම්පතක් සකස් කරන්න.

   (iv) ආරාධිත අමුත්තන් පිළිගැනීමට සුදුසු ආකාරයේ කදළි බිංදුවක හැඩයේ මල් කලඹක දළ රූප සටහනක් අඳින්න.

   (v) ශිල්ප කලා විෂය හදාරණ සිසුන්ට අලෙවි කිරීම සඳහා ඉදිරිපත් කළ හැකි රෙදි ආශ්‍රිත නිර්මාණ **හතරක්** නම් කරන්න.

   (vi) 10% ලාභයක් ඇතිව භාණ්ඩ විකිණීමට අවසර ලැබී ඇති හෙයින් වූල් ආශ්‍රිත ඇඳුම් කට්ටලයක් සඳහා රු. 250.00 වැය වී ඇත්නම් වෙළෙඳපොළට වන මිල කීයක් විය හැකි ද?

   (vii) ප්‍රදර්ශනයට ඉදිරිපත් කළ හැකි නිර්මාණ **දෙකක්** සඳහා සුදුසු ජ්‍යාමිතික හැඩතල ඇඳ දක්වන්න.

   (viii) ප්‍රදර්ශන කුටිවල සේවයෙහි නිරත වන සංවිධායක මණ්ඩලය හඳුනා ගැනීමට පහසු වන සේ පැළඳීමට සුදුසු නිල ලාංඡනයක් අඳින්න.

   (ix) වෙළඳ කුටි තුළ අලෙවියට චාම් වියමනෙන් වියන ලද කුඩා අත්ලේන්සු සකස් කර තබා ඇත. චාම් වියමන ඇඳ දක්වන්න.

   (x) ප්‍රදර්ශනයට තැබීම සඳහා සකස් කරන මැටි භාණ්ඩ අලංකාර කිරීමට යොදාගත හැකි පාරම්පරික අලංකරණ ක්‍රම **දෙකක්** නම් කරන්න.

2. සුළඟට මෙන් ම ස්පර්ශ කළ විට ද සෙලවෙන, ලෙලදෙන බෝනික්කෙකුගේ රූවක් මෙහි දැක්වේ. ඇතුළත කුහර සහිත මෙහි හිස, උඩුකය සහ සාය කොටසත් අත් දෙකත් සෙලවෙන අකාරයට සම්බන්ධ කර ඇත.



   (i) බෝනික්කාගේ පහත සඳහන් ශරීරාංගවල ඇති ජ්‍යාමිතික හැඩතල නම් කරන්න.

   (1) මුහුණ සහිත හිස (2) උඩුකය
   (3) සාය කොටස (4) දෙ අත්

   (ii) බෝනික්කාගේ තොප්පිය රෙදිවලින් සකස් කර ඇත. එය සකස් කරගත හැකි ආකාරය කෙටියෙන් දක්වන්න.

   (iii) බෝනික්කාගේ හැඩතලවලට අදාළ ව ඔබ කැමති මිමි යොදා සාය කොටස සැකසීම සඳහා විකසනය ගොඩනගන්න.

[අටවැනි පිටුව බලන්න.

**3.** ඈත අතීතයේ සිට අද දක්වා ම මිනිසා තම පරිසරයත්, ඇඳුම් පැලඳුම් ආදියත් අලංකාර කර ගැනීමට දැඩි උනන්දුවක් දක්වයි.

(i) අප භාවිත කරන චිත්ත රෙදි බොහෝදුරට සකස් කෙරෙන්නේ මහාපරිමාණ කම්හල්වල දී ය. චිත්ත රෙදි විසිතුරු කිරීමට භාවිත කෙරෙන අලංකරණ ක්‍රමය කුමක් ද?

(ii) පිළි අලංකරණයේ දී සායම් භාවිතයෙන් කෙරෙන අලංකරණ ක්‍රම **දෙකක්** නම් කර, එයින් එක් ක්‍රමයකින් කුෂන් කවරයක් අලංකාර කරගන්නා ආකාරය සැකෙවින් දක්වන්න.

(iii) කෙඳි වර්ග ස්වාභාවික හා කෘත්‍රිම ලෙස ප්‍රධාන වශයෙන් වර්ග කෙරේ. වගු සටහනක මාර්ගයෙන් කෙඳි වර්ගීකරණය පැහැදිලි කරන්න.

**4.** අත් යන්ත්‍රයක ආධාරයෙන් බඳුන් පලස් ප්‍රමාණයක් වියා ගැනීමට අපේක්ෂා කෙරේ. ඒ සඳහා සකස් කරන ලද නූල් හැදයක දළ රූප සටහන සහ විස්තර මෙහි දැක්වේ.

* හැදයේ දිග මීටර 20 කි.
* හැදයේ පළල සෙන්ටිමීටර 40 කි.
* එක් සෙන්ටිමීටරයක දික් නූල් පොටවල් ගණන 60 කි.
* නූලේ නොම්මරය $2/40^s$ කි.
* නූලේ වර්ණය ලා නිල් ය.



(i) බඳුන් පලස් වියා ගැනීමට සුදුසු වියමන් රටා **දෙකක්** නම් කරන්න.

(ii) නම් කරන ලද වියමන් රටා දෙකෙහි මතුපිට නූල් මතුවීම ප්‍රස්තාරගත කර දක්වන්න.

(iii) හැදය සකස් කිරීමට අවශ්‍ය $2/40^s$ ලා නිල් පාට නූල් ප්‍රමාණය ගණනය කරන්න.

**5.** ලෝකයට අවශ්‍ය රෙදිපිළි සකස් කිරීම සඳහා අවශ්‍ය රෙදි නිපදවීමට වර්තමානය වන විට පේෂකර්ම තාක්ෂණය වේගයෙන් සංවර්ධනය වෙමින් පවතී.

(i) රෙදි විවීම සඳහා භාවිත කෙරෙන යන්ත්‍ර වර්ග **හතරක්** නම් කරන්න.

(ii) නූල් එතීම සඳහා භාවිත කරන උපකරණ කට්ටලය නම් කරන්න.

(iii) නූල් හැදයක් යන්ත්‍රගත කරන ආකාරය පැහැදිලි කරන්න.

**6.** විවිධ අවශ්‍යතා සඳහා භාවිත කෙරෙන මැටි භාණ්ඩ නිෂ්පාදනය කිරීමත් අලංකාර ක්‍රම මගින් ඒවා විසිතුරු කර ගැනීමත් වර්තමානයේ දැඩි උනන්දුවකින් සිදු කෙරේ.

(i) පිලිස්සීමෙන් පසු මැටි භාණ්ඩවල සිදුවන වෙනස්කම් **හතරක්** සඳහන් කරන්න.

(ii) මැටි භාණ්ඩ අලංකාර කර ගැනීම සිදු කරන අවස්ථා **දෙකක්** සඳහන් කර, එයින් එක් අවස්ථාවක සිදු කෙරෙන අලංකරණ ක්‍රමයක් කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) මැටි දරණු ආධාරයෙන් භාණ්ඩයක් සාදා ගන්නා ආකාරය පියවර වශයෙන් දක්වන්න.

**7.** නිවාස සැලසුම්කරණයේ දී උද්‍යාන අලංකරණය පිළිබඳව ද විශේෂ අවධානයක් යොමු කරයි.

(i) උද්‍යාන අලංකරණ නිර්මාණයේ දී සැලකිලිමත් විය යුතු උද්‍යාන විද්‍යා මූලධර්ම **හතරක්** සඳහන් කරන්න.

(ii) උද්‍යාන අලංකරණ සඳහා භාවිත කරන මාධ්‍ය **දෙකක්** නම් කර, එක් මාධ්‍යයකින් කළ හැකි නිර්මාණයක දළ රූප සටහනක් අඳින්න.

(iii) එම නිර්මාණය සිදු කරන ආකාරය පියවර වශයෙන් පැහැදිලි කරන්න.

* * *